මහ තැපැල් කන්තෝරුවේ ලියාපදිංචි කළ පුවත්පත

# කලා



"චෝ කෝන්ති" චිත්‍රපටියේ සද්නා

# KALA

මිල -/50

සංස්කාරක : ඇරියරත්න කහවිට.

## කිංස්ලි — ප්ලාසා

ප්‍රදර්ශනය වන්නේ නව දින කිහිපයක් පමණි.

# වේට්ටික්කාරන්

(දඩයක්කාරයා)

ඇම්. ජී. රාමචන්ද්‍රන් ★ සාවිත්‍රි ★ ඇම්. ආර්. රාධා ★ නම්බියාර් ★ රාජම්මා
නාගේස් ★ අසෝකන් ★ මනෝරාමා

---

ලංකා ගුවන් විදුලි සේවයේ ශ්‍රීපාලි වයමන් ලියූ

## සරසවි වරම

ජීවන සංකල්පනා තුළින් ජනිතවූ භාවෝත්පාදක කථා දහඅටකින් යුත් රසකැවුණු කෙටිකතා පොතකි.

මිල රුපියල් 3.00 යි.

බෙදාහරින්නෝ : සීමාසහිත ඇම්. ඩී. ගුණසේන සහ සමාගම, කොළඹ, මහනුවර, ගාල්ල, කුරුණෑගල, අනුරාධපුරය, යාපනය

මේ පොත් හල් වලින්ද ලබාගත හැක:
ලේක් හවුස්, මැකලම් හා මරදානේ සුසිරි, මනහර, රත්න ප්‍රකාශකයෝ හා එවරස්ට්.

---

## කැපිටෝල් 13 වැනිදා සිට

# චණ්ඩියා

ගාමිණී පොන්සේකා
අනුලා කරුණාතිලක
ඩී.ආර් නානායක්කාර
ජෝ අබේවික්‍රම
කාල් ගුණසේන
එච්. ඩී. කුලතුංග
ඩොමී ජයවර්ධන
ඇන්තනි සී. පෙරේරා
ක්‍රිස්ටි ලෙනාඩ් පෙරේරා.
රඟපානි.



---

## කිංස්ලි ★ ප්ලාසා ★ නවා

ළඟදීම පෙන්වනු ලැබේ.

# පච්චෙයි විලක්කු

නළු — නිළියෝ :

ශිවාජී ගනේසන්,
විජය කුමාරි,
ඇස්.ඇස්. රාජේන්ද්‍රන්
නාගේස්,
සෞකාර් ජානකි,
රංගරාඕ,
ඇම්. ආර්. රාධා,
පුෂ්පලතා,
රාජන්.



අධ්‍යක්ෂක :
බීම්සිං

සංගීතය :
විශ්වනාදන් රාමමූර්ති.




ලෝසත මිදෙව් ලෝහිමි තුම් මගුල බ ලා
මේ රට අද අසිරි සිරියෙන් ඔකඳ වෙ ලා
ආදර හදින් කරුණා මෙත් සෙමර ස ලා
ආසිරි පතයි සඟරා රැජිණියද "කලා"

# ජනප්‍රිය වේදිකා නාටකය තිරයට එයි

මේ මස 12 දා හා 13 වැනිදා සිට නවත් අලුත් සිංහල චිත්‍රපටි දෙකක් ප්‍රදර්ශනය කැරෙනු ඇත. ඒ ජෙස්මින් ෆිල්ම්ස්ගේ "ලාදළු" හා කලා පෙළේ "සාමා" යන චිත්‍රපටි දෙකය.

ජනප්‍රිය වේදිකා නාට්‍යයක් ආශ්‍රිතව කලාපෙළ මගින් නිපදවන ලද 'සාමා චිත්‍රපටිය මේ මස 12 වැනිද සිට ඕඩියන් ප්‍රදර්ශක මණ්ඩලයට අයත් සිනමාහල්වල පෙන්නු ඇත. මෙම ආයතනයට අයත් සිනමාහල් වල සිංහල චිත්‍රපටියක් පෙන්වන ප්‍රථම අවස්ථාව මෙය වෙයි.

ෂෙල්ටන් සිල්වා හා ලියෝනි වීරසිංහ ප්‍රධාන චරිත දෙක නිරූපනය කරණ "සාමා" චිත්‍රපටියේ එල්සන් දිවිතුරුගම, ගාමිණී විජේසූරිය, ඩී. ඇම්. දෙනවක, ගාමිණී වික්‍රමසූරිය, පී. බී. මයිල්ලාව, ඇම්. ඩී. අමරසිංහ, තිස්ස අමරකෝන්, මල්ලිකා නානායක්කාර, මොනිකා වීරසිංහ, අමිතා මල්ලවාරච්චි, සුගතපාල සෙනරත් යාපා හා ඩී. ඒ. සිරිවර්ධන යන නවක නළු නිළියන් සෙසු චරිත රඟ දක්වති.

මේ චිත්‍රපටියේ කතාව හා දෙබස් ලියා අධ්‍යක්ෂණය කර ඇත්තේ ජී. ඩී. ඇල්. පෙරේරාය. ඩබ්ලිව්. ඒ. රත්නායක කැමරාව ක්‍රියාත්මක කොට ඇත. මෙහි පසුබිම් සංගීතය ඩබ්ලිව්. ඩී. අමරදේව ගෙනි. දේවානන්ද වෛද්‍යසේකර හා මල්ලිකා පෙරේරා ගී ගයති.

# 'වෙසතුරු සිරිත' සෝදන්න යවයි

බෞද්ධ කථා පුවතක් පදනම් කරගෙන උදය නිෂ්පාදකයින් වෙනුවෙන් දයා ගුණතිලක වෙවර්ණයෙන් නිපදවනු ලබන 'වෙසතුරු සිරිත' චිත්‍රපටියේ දල සේයාපටි සේදීම සඳහා පසුගියදා එංගලන්තයට පිටත්කර යවා ඇත.

වෙසතුරු චරිතය ඇසුරෙන් නිපදවනු ලබන මෙම චිත්‍රපටියේ වෙස්සන්තර රජු ලෙස ගාමිණී වීරසේකර රඟපාන අතර මද්‍රි දේවිය ලෙස රාණී වීරරත්න රඟපායි. ඩී. ආර්. නානායක්කාර හා ශේන් ගුණරත්න ආදී ජනප්‍රිය දක්ෂ නළු නිළි පිරිසක් රඟපාන මෙම බෞද්ධ චිත්‍රපටියේ සුමිත් අමරසිංහ කැමරාව මෙහෙයවන අතර අමරදේව ගේ සංගීතයට අනුව මහගම සේකර විසින් ගීත ප්‍රබන්ධය කර ඇත.

# හින්දි චිත්‍රපටි වර්ජනය කරති

හින්දි භාෂාව රාජ්‍ය භාෂාව කිරීම ගැන විරෝධය පෑමක් වශයෙන් දකුණු ඉන්දියාවේ ප්‍රධාන පෙළේ සිනමාශාල් හතලිහක හින්දි බසින් නිපදවූ චිත්‍රපටි ප්‍රදර්ශනය කිරීම සම්පූර්ණයෙන් නවතා දමා ඇත. මේ වෙනුවට ඔවුන් බෙංගාලි හා ඉංග්‍රිසි චිත්‍රපටි ප්‍රදර්ශනය කිරීමට ආරම්භකර තිබේ.

මෙම හින්දි චිත්‍රපටි වර්ජන ව්‍යාපාරය අනෙකුත් ප්‍රදේශයන් හිද හැකිතාක් ඉක්මනින් පතුරුවා හැරීමට දෙමළ රාජ්‍යයක් ඉල්ලා දකුණේ ක්‍රියා කර ගෙන යනු ලබන දේශපාලන පක්ෂ බලාපොරොත්තු වේ.

## ආලය කරන්න ගොස් ඉලඇට කඩාගනී

ප්‍රේම ජවනිකාවක් රඟපෑමට ගොස් ඉල ඇට කඩාගත් අවස්ථාවක් ගැන ඔබ අසා තිබේද? මෙවැනි සිද්ධියක වාර්තාවක් සුවීඩනයෙන් ලැබී තිබේ.

සුවීඩනයේ වේදිකා නළුවෙකු වන ස්ටිග් ජේරල් නැමැති නළුවා කෙතරම් දක්ෂ අන්දමින් මෙම ජවනිකාව රඟපෑවේද යත් ඔහුගේ පෙම්වතිය මෙන් රඟපෑ ස්ටෙලා නැමැති නිළියගේ ඉල ඇට දෙකක් බිඳෙන තුරු ඔහු ඇයව තුරුලු කරගෙන ඇත. අවසානයේදී ස්ටෙලාව ආරෝග්‍යශාලාවට ඇතුල් කරණ ලදී.

## චිත්‍රපටි අධ්‍යක්ෂක මියයයි

මෑතදී ඉන්දියාවේ බෙහෙවින් ජනප්‍රියතාවයට පත්වූ "ආයි මිලන් කි බේලා" චිත්‍රපටිය අධ්‍යක්ෂණය කල සන්තෝෂ් කුමාර් ප්‍රමාණයට වඩා නිදි බෙහෙත් ගැනීමෙන් ජීවිතක්ෂයට පත්ව ඇත.

මෙම බෙහෙත් පෙති පාවිච්චි කල සැනින්ම සන්තෝෂ්ව ආරෝග්‍යශාලාවට ඇතුලත් කළ නමුදු ඔහුගේ ජීවිතය බේරාගැනීමට නොහැකි විය. තරුණ වියේ පසුවූ අධ්‍යක්ෂකවරයෙකු ලෙස හොඳහැකියාවක් ඇත්තෙකුලෙස විචාරකයින් විසින් සන්තෝෂ්ව හඳුන්වාදී තිබුණි.

## මිස්ටර් 'පොපට්ලාල්' වේදිකාවට

කොටහේනේ තරුණ සමිතියක් විසින් ඉදිරිපත්කරනු ලබන හාස්‍ය රසයෙන් පිරි "මිස්ටර් පොපට්ලාල්" නැමැති විකට නාට්‍යය සහ විවිධ ප්‍රසංගය මේ මස 22 වෙනි සෙනසුරාදා සවස 6 ට කොටහේනේ යහපත් එඬේරාගේ කත්‍යාරාම ශාලාවේදී වේදිකා ගත වේ. ලක්ෂ්මන් බන්ධු, රොනල්ඩ් ධර්මරත්න, සුනිමල් අර්සකුලරත්න ඇඳීත් පෙනී සිටින මේ නාට්‍යය මෙහෙයවනු ලබන්නේ මෙල්රෝයි ධර්මරත්න හා ප්‍රැන්සිස් ලුවිස් ය.



මෙහි පියානෝව වාදනය කරන්නේ සංගීත අධ්‍යක්ෂක ආර්. මුත්තුසාමි ගෙන් (දකුණේ) සංගීතය හදාරන පී. ජී. විජේවර්ධනයි. විනෝදාංශයක් වශයෙන් සංගීතය හදාරන විජේවර්ධන නීති ශිෂ්‍යයෙකි. ඉදිරියට මුත්තුසාමි සංගීතය සපයන චිත්‍රපටිවල මොහු සහය සංගීත අධ්‍යක්ෂකවරයෙකු ලෙස කටයුතු කරනු ඇත. ශාස්ත්‍රීය සංගීතය පිළිබඳ මැඩිදුරටත් පුහුණුවක් ලබාගැනීමට අපේක්ෂා කරන විජේවර්ධනට බටනලාව, සිතාරය, වයලීනය, මැඩලීනය ආදී විවිධ සංගීත භාණ්ඩ කිහිපයක්ම වාදනය කිරීමට හැකියාවක් ඇත.



දනට දර්ශන ගැනීම අවසන් වී ඇති හුලෝගා ප්ලිමිස්ගේ "සීතල වතුර" චිත්‍රපටියේ එක් අවස්ථාවක අනුලා කරුණාතිලක හා ඩී. ඇම්. කොළඹගේ මෙසේ රඟදක්වති.

## හින්දි චිත්‍රපටි අඩුවෙයි
## මේ අයට ජය අත්විය හැකියි

1964 වර්ෂය තුලදී ප්‍රදර්ශනයට තැබූ චිත්‍රපටි දෙස බලනවිට හින්දි චිත්‍රපටි කර්මාන්තය තරමක් දුරට ආපසු ගමන්කර ඇති බව පෙනේ. පසුගිය වර්ෂය තුල දී තිරගත කල හින්දි චිත්‍රපටි අසූ අට අතරින් හොඳයයි කිවහැකි චිත්‍රපටි සංඛ්‍යාව ඇත්තවශයෙන් අටකටත් අඩු තරම්ය. මින් සත්‍යන් බෝස්ගේ "ඩොස්ටි" කිෂෝර්කුමාර්ගේ "ධූර් ගගන් කි චාවොන් මෙන්" ශාන්තාරාම්ගේ "ගීත් ගයා පතරෝන්" රාම් මුකර්ජිගේ "ලීඩර්" රාජ්කපූර්ගේ "සන්ගම්" කේ. ඒ. අබ්බාස්ගේ "ෂෙර් ඕර් සප්නා" රාජ් කොෂලාගේ "වෝ කොන් තී" විචාරකයින්ගේ ප්‍රශංසාව හිමිවූ චිත්‍රපටිය.

අනෙක් චිත්‍රපටි බොහොමයක් මුදල් ඉපයීමේ පරමාර්ථයෙන් නිපදවූ චිත්‍රපටි බව පෙනේ. මින් බොහොමයක් දේව කථා හා දාරාසිං වැනි නළුවන් යොදා නිපදවූ වීර කථා වේ.

මේ නිසාම දාරාසිං චිත්‍රපටි අටක රඟපාමින් වර්ෂයේ වැඩිම චිත්‍රපටි ගණනක රඟපෑ නළුවාවී ඇත. ඊලඟට වැඩිම චිත්‍රපටි ගණනක රඟපා ඇත්තේ අළුත් නළුවෙක්වූ ධර්මේන්ද්‍ර හා බිස්වජිත්ය. ඔවුන් චිත්‍රපටි පහක බැගින් රඟපා ඇත. අශෝක් කුමාර් හා ජෝයි මුකර්ජි චිත්‍රපටි හතර බැගින් රඟපා ඇති අතර රාජේන්ද්‍ර කුමාර් චිත්‍රපටි තුනක රඟපා තිබේ. රාජ් හා දේව්ට ලැබී ඇත්තේ චිත්‍රපටි දෙකක් පමණි. දිලිප් හා සුනිල් රඟපා ඇත්තේ එක චිත්‍රපටිය බැගිනි.

නිළියන් අතරින් මාලාසිංහ හා වෛජයන්තිමාලා චිත්‍රපටි පහ බැගින් රඟපා ඇති අතර මීනා කුමාරි හා සයිරා චිත්‍රපටි හතර බැගින් රඟපා ඇත. වහීඩා රේමන්ද චිත්‍රපට තුනක ගිය වසරේදී රඟපා ඇත.

සංගීත අධ්‍යක්ෂවරුන් හතලිහක් පමණ සිටින හින්දි සිනමා ලොවේ චිත්‍රපටි අටක සංගීතය සපයමින් ෂන්කර් හා ජායිකිෂන් මුලට පැමිණ සිටින අතර නෞෂාඩ් වැනි පැරණි සංගීත අධ්‍යක්ෂවරුන්වූ වසන්ත දේශායි රෝෂාන් වැන්නවුන්ට සංගීතය සැපයීමට ලැබී ඇත්තේ එක චිත්‍රපටිය බැගිනි.

එහෙත් පසුගිය වසරේ හොඳම සංගීත අධ්‍යක්ෂකවරයා ලෙස "ඩොස්ටි" චිත්‍රපටියට සංගීතය සැපයූ ලක්ෂ්මිකාන්ත් පියරිලාල් තේරීමට ඉඩ ඇත. හොඳම නළුවා ලෙස "ෂේර් ඕර් සප්නා" චිත්‍රපටියේ රඟ පෑ දිලිප් රාජ් පත්වීමට ඉඩ ඇති අතර හොඳම නිළිය ලෙස මීනා කුමාරි, වහීඩා රේමන් හෝ මාලාසිංහ යන නිළියන් අතරින් කෙනෙකු තේරීමට ඉඩ ඇත.

පොදු වශයෙන් සලකනවිට අළුත් නළු නිළියන් හා සංගීත අධ්‍යක්ෂවරුන් හින්දි සිනමාව ඇදී ඇති බව පෙනේ.



කොහේදෝ ඇතක රැඳී ඇති ඇගේ දෙනෙතේ ඇත්තේ ශෝකයද ?නැත්නම් පාළුවද? මොනව වුනත් ජීවරානිගේ ලස්සන මූණ මොකක්දෝ ව්‍යාකූල හැඟීමකින් අඳුරු වෙලා. සිනේ ලංකා වෙනුවෙන් ලෙස්ටර් ජේම්ස් පීරිස් නිපදවන අලුත්ම චිත්‍රපටිය වන 'දෙලොවක් අතර' චිත්‍රපටියේ ජවනිකාවක ජීවරානී මෙසේ පෙනී සිටී.

# තවත් අලුත් චිත්‍රපටියක්

ටිස්වි නම් අලුත් චිත්‍රපටි සමාගමක් මගින් නිපදවීමට යන සිංහල චිත්‍රපටියක ගීත කිහිපයක් ඉකුත් 7 වෙනිදා හැඳල පිහිටි විජය චිත්‍රාගාරයේදී පටිගතකරන ලදී. ආර්. මුත්තුසාමිගේ සංගීත යට මේ ගීත ගයනු ලැබුවේ මොහිදීන් බෙග්, මල්ලිකා ද සිල්වා හා සුජාතා පෙරේරාය. ලතා, ධර්මදාස වල්පොල හා මුත්තුසාමි ද ගී ගයන මේ චිත්‍රපටියේ ඊටා රත්නායක, විජිත මල්ලිකා, ස්ටැන්ලි පෙරේරා, එච්. ඩී. කුලතුංග, පිටිපන සිල්වා හා ජයන්ත ද සිල්වා යන නළු නිළි ගොල්ලක් රඟ දක්වති. මෙහි දෙබස් හා ගීත කරුණාරත්න අබේසේකර විසින් ලියා ඇත. තවම නමක් යොදා නැති මේ චිත්‍රපටිය කඳාණේ ඇස්. පි. ඇම්. චිත්‍රාගාරයේදී චිත්‍රපටි ගත කරනවා ඇත.

## බර්ලින් චිත්‍රපටි උළෙලට තෝරා ගනී

ජූනි මාසයේ ඇරඹෙන බර්ලිනයේදී ආරම්භ වන ජාත්‍යන්තර චිත්‍රපටි උත්සවය සඳහා ඉන්දියාවෙන් සත්‍යජිත් රායිගේ "කා පුරුෂ් ඕ මහාපුරුෂ්" හා සුනිල් ඩට්ගේ "යාදීන්.' යන චිත්‍රපටි දෙක ඉදිරිපත් කිරීමට තීරණය කර ඇත.

"කාපුරුෂ් ඕ මහා පුරුෂ්.' රායිගේ අළුත්ම චිත්‍රපටිය වන අතර "යාදීන්" සුනිල් ප්‍රථමයෙන්ම අධ්‍යක්ෂණය කළ චිත්‍රපටිය වේ. අත්හදා බැලීමක් වශයෙන් අඩු වියදමකින් නිපදවනු ලැබූ මෙම චිත්‍රපටියේ රඟපාන එකම නළුවා ද සුනිල් පමණකි.

# දත් යුවළට තඩු පැවරේ

හින්දි තිරයේ ජනප්‍රිය නළුවෙකු වන සුනිල් ඩට්ට සහ ඔහුගේ බිරිඳ වන නාර්ගිස් ඩට්ට ඇස්. බී. ජයසිංහාන් නැමැති කෙටි කතා කරුවෙකු විසින් තඩු පවරා ඇත. ඔහු මෙම තඩුව පවරා ඇත්තේ සුනිල්ගේ "යාදීන්" චිත්‍රපටිය නිපදවීම සඳහා තමාගේ කෙටිකතා වක කථාවක් සොරකම් කරගෙන ඇතැයි යනුවෙන් චෝදනා කරති.

සුනිල් තමාත් සමග ඉගෙන ගත් බව කියන ඔහු 1954 දී "අ නයිට් විත්අවුට් ස්ලීප්" නමින් මෙම කථාව පුවත්පතක පළවූ බව ජයසිංහාන් කියයි. තව්දුරටත් කරුණු දක්වන ඔහු ඒ දිනවල කතාව කියවූ සුනිල් එය චිත්‍රපටියකට ඉතාමත් සුදුසු බව කී බව සඳහන් කර ඇත.

මේ නිසා ලබන 14 වෙනිදා උසාවියේ පෙනී සිටින ලෙස නාර්ගිස්ට හා සුනිල්ට සිතාසි නිකුත් කර ඇත.



## සිංහල දෙබස් කැවෙයි

විදේශීය චිත්‍රපටිවලට දෙබස් කැවීම තහනම් කිරීමට පෙර රජයෙන් අවසර ගෙන තිබූ හින්දි චිත්‍රපටියකට සිංහල දෙබස් කැවීම ඉකුත්දා පටන්ගන්නා ලදී. ඒ ෆිල්මිස්තාන්ගේ "අභිනයත්" චිත්‍රපටියයි. ඉන්ද්‍රජාල කතාවක් රඟත් මේ චිත්‍රපටියේ දෙබස් රත්නසිරි එරත්න විසින් දැනට මත් ලියා අවසානය. මෙහි සිංදු බැඳීම කරුණාරත්න අබේසේකර ට පැවරී ඇති අතර සංගීතය සපයන්නේ ආර්. මුත්තුසාමි විසිනි. දැනට සිංහල චිත්‍රපටි කිහිපයකම සහය අධ්‍යක්ෂවරයෙකු ලෙස කටයුතු කරන වෙන්කටාචලම් දෙබස් කැවෙන මේ චිත්‍රපටයේ දෙබස් කැවීම මෙහෙයවයි.

"අභිනයත්" චිත්‍රපටියට සිංහල දෙබස් කවා නිපදවන්නේ 'පුරුෂ රත්නය' චිත්‍රපටිය නිපදවූ විජිත චිත්‍රකලා සමාගමය.



ගංගා චිත්‍රපටි සමාගමේ "ආදර යයි - කරුණාවයි" චිත්‍රපටියේ ගාමිණී ෆොන්සේකා උසස් යුද්ධ නිලධාරියෙකුගේ චරිතයක් මෙසේ රඟපායි. ක්ලැරිස් ද සිල්වා ප්‍රධාන නිළි චරිතාංගය නිරූපණය කරන මේ චිත්‍රපටය ආනන්ද ජයරත්න විසින් මෙහෙයවා ඇත.

## විවාහයට මඟ පෑදෙයි

කාලාන්තරයක් තිස්සේ කාලෝ පොන්ටිගේ හා සෝෆියා ලොරේන්ගේ විවාහය පිළිබඳව ඔවුන් දෙදෙනාටම කරදර කළ නීතිය පිළිබඳ ප්‍රශ්නයක් යන්තමින් කෙළවරවී ඇත. මේ සියල්ල විසඳී ඇත්තේ ඉතාලි පුරවැසිකම වෙනුවට පොන්ටිට ප්‍රංශ පුරවැසිකම ලැබීම නිසාය.

මීට පෙරද පොන්ටි දික්කසාද වී සිටි නමුදු එම දික්කසාදවීම නීත්‍යානුකූල නැතැයි පල්ලිය හරස්වූ හෙයින් ඔහුට සෝෆියාව විවාහකර ගත නොහැකි විය. ඉන්පසුව කාලයක් මහත්සිව් මෙන් පොන්ටි ප්‍රංශයේ පුරවැසිකම ලබාගත්තේය. එතැන දීද ඔහුට නොයෙකුත් කරදරවලට හා අපවාදයන්ට ගොදුරුවීමට සිදුවිය "මගේ සටනේදී ලක්ෂ දෙකක් ජනතාව මා පිටුපසින් සිටියාශ" යි ප්‍රංශ පුරවැසිකම ලබා ගැනීමෙන් පසු පොන්ටි කීය.





තුගේගොඩ සුනිල් සමරකෝන්

විවාහක ගැහැනුන් චිත්‍රපටිවල රඟපෑම ගැන ඔබේ අදහස කුමක්ද?

★ ගැහැණු කවුරුද වරදෙ නොබැදෙන.

උඩහමුල්ලේ කුසුමා රත්නායක

ඔයා සුදුද ?

★ සුදු උනත් කළු උනත් දැන් මොකටද කුසුමේ ?

ඇස්වත්තේ රෙස්කි ප්‍රේමරත්න

කොහොමද දැන් මැණිකෙට සාරිය ?

★ මේ එයා මං බලාගන්නං.

මීගමුවේ අළුත්කුරුවේ ප්‍රේමා හා වියලා

සිංහල කොවියා මඩ සෝදා ගත් කල සිහසුනට ඔබි නම් ගැහැණිය නාවා අන්දවා ගත් කල . . . ?

★ හිරමනේ කොහේ අරන් ගියත් පොල් ගානවා මීස වෙන මොනව කරන්ඩද ?

මාතලේ බී. ඒ. ගුණරත්න සහ පුස්සැල්ලාවේ එම්. බී. ජයතිස්ස

ඔබට අනම්‍ැතිකම ලැබුණොත් ?

★ එය දැන් පුදුස්සට ලැබී ඉවරයි.

දෙඛන්දූවේ හැරිසන් කළුපහන

ඔබ කෙල්ලෙක් උනානම් ?

★ පිළිතුරු ලිව්ල්ල කොහොම වෙතත් මෙලහකට සිය දරු නලවාවී.

මොරටුමුල්ලේ මර්වින් සෙල්ලප්පෙරුම

තව්වුකරන්නාට දෙර ඇරෙනවාලු - එහෙනම් පෙම් කරන්නාට . . . ?

★ තරු පෙනෙවාලු.

කොල්ලුපිටියේ ක්‍රෝටන්ගහ නිවසේ ඩබ්ලිව්. කේ. සඩාමනී පෙරේරා

හා - හා ඔයා දැන් හරි කතිකළයක්ලු නේද ?

★ ඔව් සර්ධා මං ගොන ගහන්නෙ ඔයා ළඟදි විතරයි.

පැදුමංකඩ, මීගමු පටිපන බී. ඇස්. ප්‍රනාන්දු

සිනමාව කලාවක්ද . . ?

★ නෑ ව්‍යාපාරයක් ?

මීගමු අළුත්කුරුවේ ඇම්. ප්‍රේම් ජේ. ප්‍රනාන්දු සහ ඇම්. වියලට්

කිරි සයුර කලම්බන කොට අමෘතය හම්බ උනා නම් - පෙම් සාගරය කැලැම්බුවොත් මොනව හම්බවෙයිද ?

★ සෙම්, සොටු.

දළුපොත කේ. ඇල්. ඒ. පොන්සේකා

ලෝකයේම ලොකුම සිනමා හල මොකක්ද ?

★ ලෝකය තමා ලොකුම සිනමාහල.

පාදුක්තේ සුබර්මා නූවාන් ජයසුන්දර

ගැහැණිය කිසිම දේකින් තෘප්තියට පත් නොවන්නේ ඇයි ?

★ මකරකටේ මොනවා දම්මත් පිරෙනවයෑ.

ඇඹුල්දෙනියේ සිරිසේන

මහ රෑ හමුවූ සත්‍රියකෝ ?

★ තාම නානවා ඇඳුම් ඇද ගෙන ඒවි.

කටුබැද්දේ ශීලා පෙරේරා

තීකං ජාති දන්න එපා අපිත් මොරටු කොල්ලෝ.

★ පේනවා පේනවා කලිසමට යටින් ගවුම පේනවා.

රඹුක්කන සරත් නුගවෙල

ලෝක රූප සුන්දරිය සල්ලි මල්ලකුත් රැගෙන මත් පැන් බෝතලයකුත් අරගෙන ඔබේ කාමරයට ආවොත් ?

★ ඉස්සෙල්ලා බෝතලේ කඩල පොවනවා. පෙව්වට පස්සේ මොකාව කරගන්ඩ බැරිද ?

මීගොඩ කරුණා ගමගේ

අපට ඇත්තේ එක හිතක්ද?

★ මොන පිස්සුද, ඇස් දෙකක් තියෙනවා නම්, අත් දෙකක් තියෙනවා නම් අදහිතක් තියෙන්ඩ ඕනෙ.

මාකෙහෙල්වල එච්. ඇම්. ගමගේ

ඔයා බැන්දට පස්සෙ ගෑණු ළමයින්ගෙ ප්‍රශ්ණ වලට උත්තර දෙන්ඩ බයයි කියන්නෙ ඇත්තද ?

★ මොන පිස්සුද - දැන් තමයි බය නැත්තෙ.

රත්නපුරේ පැල්වාඩියේ උපාලි කිත්සිරි

ලෙස්ටර්-වසිටස් නාම නිහඩ මොකද ?

★ ඒ ගොල්ලො හෙමිහිට හොඳට කරණ මිනිස්සු.

පාදුක්කේ පිටුම්පේ ලූකස් පෙරේරා

කරු නමුසෙ කලුද රතුද ඔයි ?

★ තලඑලලුයි ඔයි !

රත්මලානේ ඉග්නාසියුස් සිල්වා

කරුණක් කියම් අහගන්
නකො කරු අයියේ

දක්කා ඔබව මා හීනෙන්
රෑ ඊයේ

★ එහෙනම් වෙන කෙනෙකි
වැරදිල ඔබට වදේ

ඊයේ මුලු රෑම මම නම්
සිටියෙ ඇදේ

වැලිපැන්න ගහමුල්ලේ සෝමපාල මාරසිංහ

ඒයි කුකුල්ලො නැතුවට කමක් නැහැ අර කූඹෙ එවපන්.

★ නරිය, කුකුල්ලො මිසක් කූඹෙ කනවද ?

කල්පිටිය, ලුවිස් මාටින් ප්‍රනාන්දු

මුළු ලෝකයම එලිය කරණ හඳට, එහි ඇති කළුව නැති කරගන්ට බැරි ඇයි ?

★ ඇයි අයිසේ, පහන මුලත් අඳුර නේද ?

උහන ඩී. ජී. සුමනදාස

මවයි පියයි කවුරු හා සමානද ?

★ ජීවිතය නැමති රජ දහනෙ රැජිණිය තමා අම්මා-රජතුමා තමා පියා.

මාදම්පේ, පද්මලතා අලහකෝන්

ගැහැණුන්ට ඇත්තේ ලපටි හදවත් නම්, පිරිමින්ට ඇත්තේ මොන හදවත්ද ?

★ ඔයා හිතුවද මම 'කපටි හදවත්' කියයි කියල ?

පාහදුර තල්ලුරුවේ ඇම්. එල්. එල්. පෙරේරා

ඔබේ ගීතයක් පලමුවෙන්ම ගායනා කලේ කවුද ?

★ රවීන්ද්‍ර රූපසේන.

අඹත්පිටිය-ආසිදෙනියේ ඇස්. ඒ. ඇම්. පී. බණ්ඩාර

මාමෙ - නැන්දම්මා එක්ක කතා වෙලා වැඩේ ඉක්මන් කලොත් හොඳ නේද ?

★ ඇයි කොළුවො උඹ ගෙනියන්නෙ නැන්දම්මාද දුවද?

ගම්පහ පරාක්‍රම පාර, රූපා සමරවීර සහ නාලිනී සමරවීර

කවදා හෝ සසර කතර
අතර මගක දී

දුටුවා ඔබ මට අමතක
නොවන දිනක දී

★ හමුවුන තැන හා දිනයද
මතකයෙහි තියේ

අපි දෙන්නා රෝද දෙකකි
එකම බස් රියේ

පහල කොස්ගොඩ පියදාස කුඩාවිතානගේ

කරු පුතේ! මට කෙල්ලෙක් ආලය කරනවා

★ කියනව නාත්තෙ අම්මට.

උඩහමුල්ලේ චන්ද්‍රසේන පෙරේරා

අපි අමාරුවකදි අම්මා සිහි කරන්නේ ඇයි ?

★ අම්මට තමයි ඉතින් නිදහසක් නැත්තෙ.

## හොඳම ප්‍රශ්නය

මාතලේ ඔව්ලිකන්දේ ජී. එච්. කමලා ධර්මකීර්ති

ගැහැණිය අමාරුවෙ දන්නෙ පිරිමියාද - පිරිමියා අමාරුවෙ දන්නෙ ගැහැණියද ?

★ දෙන්නම අමාරුවෙ දන්නෙ ප්‍රේමය.

ළඟම ඇති සිනමාස් සමාගමට අයත් සිනමාහලේ ප්‍රදර්ශනය වන චිත්‍රපටිය නැරඹීම සඳහා ඔබට ප්‍රසාද ප්‍රවේශ පත්‍ර දෙකක් යථා කාලයේදී ලැබෙනු ඇත. ඉදිරියටද හොඳම ප්‍රශ්නය එවන පාඨකයාට මෙවැනි ප්‍රසාද ප්‍රවේශ පත්‍ර ප්‍රදානය කරනු ලැබේ. ඔබේ ප්‍රශ්නයත් සමග සම්පූර්ණ ලිපිනය පැහැදිලිව ලියා එවන්න.

# නිලිය ගින්නෙන් නැසී

පැරණි ඉංග්‍රීසි චිත්‍රපටි ලෝක යේ ජනප්‍රිය තරුවක්ව සිටි ලින්ඩා ඩානෙල් පසුගියදා හදිසි ගින්නකින් දැවී මිය ගියාය. චිකාගෝ නගරයේ මිතුරියකගේ නිවසකදී දී ඇතිවූ ගින්නකදී මිය ගිය ලින්ඩාගේ වයස අවුරුදු හතලිස් දෙකකි.

ලින්ඩා රඟ පෑ චිත්‍රපටි අතරින් "ෆොරෙවර් ඇම්බර්" "ද සින්ඩ්‍රෙල්ලා ගර්ල්" "බ්ලඩ් ඇන්ඩ් සෑන්ඩ්" "අන්ෆේත්පුලි යුවර්ස්" ආදී චිත්‍රපටි බෙහෙවින් ජනප්‍රිය විය.

## සිංහලෙන් හින්දි

24 වන පාඩම

### වෛබීස්වාං පාට්

| | | | |
|---|---|---|---|
| 1 | ඝුංඝට් | ÷ | මොට්ටක්කුලිය |
| 2 | කානූන් | ÷ | නීතිය |
| 3 | ආවාරා | ÷ | පල් හොරා |
| 4 | රන්ගෝලී | ÷ | වේදිකාව |
| 5 | සංගම් | ÷ | සංගමය |
| 6 | කන්ගන් | ÷ | ගාන්චු |
| 7 | කොහෙහාරා | ÷ | මීදුම |
| 8 | ජන්ග්ලී | ÷ | වනයෙහි හැසිරෙන්නා |
| 9 | දුලාරි | ÷ | කන්‍යාව |
| 10 | තිරන්ඩාන්ස් | ÷ | දුනුවායා |
| 11 | අල්බේලා | ÷ | ලක්ෂණ, පුදුම |
| 12 | ශරාබී | ÷ | බේබද්දා |
| 13 | සසුරාල් | ÷ | භාර්යාව හෝ ස්වාමියාගේ පියාගේ නිවස |
| 14 | නස්රානා | ÷ | මගුල් තෑග්ග |
| 15 | බර්ෂාත් | ÷ | වැස්ස |
| 16 | කොහිනූර් | ÷ | වටිනා මැණිකක් |
| 17 | සුහාරාං | ÷ | සුභ රාත්‍රිය |
| 18 | ශාදී | ÷ | විවාහය |

ඉහතින් සඳහන්වූයේ හින්දි චිත්‍රපට කීපයක නම් බව සැලකුව මැනවි.

**වාක්‍ය තැනීම.**

1 රන්ගෝලී මේං ආයී හුසී ඔෆරත් අප්නී ඝුංඝට් බෝලී
වේදිකාව මතට ආ සත්‍රිය ඇගේ මොට්ටක්කිලිය ඉවත් කලාය.

2 උස් ආවාරාකෝ කානූන් කේ ජාල්සෙ න බච් සකා
ඒ පල් හොරාට නීතියේ දැලෙන් ගැලවීමට නොහැකිවිය.

3 සංගම් ෆිල්ම් ආ රහී හෙ
සංගම් චිත්‍රපටිය එමින් සිටියි.

4 පූලිස්නේ ඩාකු කා හාථෝං කෝ කන්ගන් ඩාලා
පොලීසිය විසින් හොරාගේ අත්වලට ගාන්චු දමනලදී.

5 ශාරාබී ආද්මී නේ උස්කෝ මාරා
බේබදු මිනිසා විසින් ඔහුව මරනලදී.

6 බර්ෂාත් කී රාත් මේං මෛං උස්කෝ දේඛා
වැසි දින රාත්‍රියෙහි මම ඇය දුටිමි.

7 උස්නේ දියාගයා නස්රානා බහුත් මහංගා හෙ
ඔහු විසින් දෙනලද මගුල් තෑග්ග ඉතාමත් වටියි.

**රත්නසිරි සමරසේකර විසිනි**



විජය කුමාරි හා ශිවාජි ගනේසන් පෙනීසිටින මේ ශෝචනීය ජවනිකාව — මීළඟට කිංස්ලි සිනමාහලේ පෙන්වීමට බලාපොරොත්තුවෙන "පච්චෛයි විලක්කු" චිත්‍රපටියෙනි.

# නව චිත්‍රපටි පරීක්ෂක මණ්ඩලය

අධ්‍යාපන හා සංස්කෘතික ඇමති අයි. ඇම්. ආර්. ඒ. ඊරියගොල්ල මහතා විසින් අළුතින් පහළොස් දෙනෙකු ගෙන් යුත් චිත්‍රපටි පරීක්ෂක මණ්ඩලයක් පත් කොට ඇත.

අධ්‍යාපන හා සංස්කෘතික කටයුතු දෙපාර්තමේන්තුවේ නිත්‍ය ලේකම් ඇම්. ජේ. පෙරේරා මහතාගේ ප්‍රධානත්වයෙන් පත්කර ඇති මෙම මණ්ඩලයට පොලිස්පති, නාගරික කොමසාරිස්, අධ්‍යාපන අධ්‍යක්ෂක, පරිවාස හා ළමා ආරක්ෂක කොමසාරිස් යන නිලධාරීන් හෝ ඔවුන්ගේ නියෝජිතයින් ඇතුළු ඒ. ඇම්. ඇස්. පෙරේරා, එල්. ඕ. ඩී. සිල්වා, අමීර් සෙරීෆ්, පී. සී. පෙරේරා, පී. කේ. ඩී. සෙනෙවිරත්න, සරණගුප්ත අමරසිංහ, ධර්ම ශ්‍රී කුරුප්පු යන මහත්වරුන් හා එල්. බස්නායක, ඩී. විජේනායක, කේ. කනකසුන්දරම් යන මහත්මීහු ද අයත් වෙති. මෙම මණ්ඩලයේ ලේකම් වශයෙන් අධ්‍යාපන හා සංස්කෘතික අමාත්‍යාංශයේ සහකාර ලේකම් බෙනට් සී. ප්‍රනාන්දු මහතා ක්‍රියා කරනු ඇත. නව චිත්‍රපටි පරීක්ෂක මණ්ඩලය මගින් ප්‍රථමයෙන්ම නරඹා ප්‍රදර්ශනය සඳහා සම්මත කර ඇත්තේ ළඟදී තිරගත වන 'ලාදළු'' චිත්‍රපටියයි.

පසුගිය රජය මගින් චිත්‍රපටි පරීක්ෂක මණ්ඩලයට විසි හතර දෙනෙක් පත්කර තිබුණි.



# මේ මස 13 ව



ස්ටැන්ලි පෙරේරා හා විජිත මල්ලිකා

සම්පත් සේනාරත්න තරුණ නීති වේදියෙකි. නුවරඑළියේ විවේක සුවය සඳහා ගොස් සිටින මොහු කොළඹ ධනවතෙකුගේ එකම පුතනුවන්ය.

එක් උදෑසනක් නොපෙනෙන වංගුවකින් තම රථය වේගයෙන් පදවාගෙන එද්දී-ඉදිරිපසින් ආ රූමත් තරුණියක් රථය එන වේගයට බියවී පසකට පනිද්දී පය ලිස්සා පහලට වැටුනාය.

වැටීමෙන් ඇතිවූ තුවාලය සුළු වුවද තැතිගැන්ම නිසා සිහිමූර්ඡා විය. මිනිස් හැඟීමකින් ඇ බැලීමට ඔහු සවස්මානයේ ආරෝග්‍ය ශාලාවට ගියේය. එහිදී ඇගේ රූපයට ඔහු වසඟ වූයේය. ඔහුගේ නම්බුකාර හැසිරීමට ඇ පැහැදුනේය. ඊටපසු දෙදෙනා අතර ඇතිවූයේ සුරතල් ආස්වාදයකි.

ඇ ආරෝග්‍යශාලාවෙන් ආවාට පසු කීප දිනක් මොවුන් හදිසියෙන් මෙන් මුණ ගැසුනේය. සවල්ප දිනකින් මේ දෙදෙනාගේ මිතුදහම වෙන අතකට පෙරළුනි.

සම්පත් කිසි පැකිලීමක් නැතිව ප්‍රියා නැමැති මේ රූමත් තරුණිය සමග විවාහවීමට පොරොන්දු විය.

ටික දිනකට පසු, තම පියා අසනීපයෙන් ඉන්නා වග දන්වා එව් ලියමන රැගෙන ගොස් ප්‍රියාට ඒ බව දන්වා ඇගෙන් සමුගෙන කොළඹ පිටත්ව සම්පත් ආවේ, නිකම්ම නොව, ඇ විවාහවීමට වූ පොරොන්දුව තවත් තහවුරු කරමින්යැ.

පියාට තදබල අසනීපයක් නැතිවග කොළඹ ආ හැටියේම ඔහුට අවබෝධ විය. එමනිසා සවිරකර ගැනීමට බව අම්මාගෙන් ඒ වෙලේදී දැනගත්තේය.

මෙය ඔහුට පුදුමයක් විය. වැදගත් ගෑණු ළමයෙකුට තමන් වූ පොරොන්දුව ගැන නැවත නැවත මෑණියන්ට කියා තම සිතට සහනයක් ලබාගැනීමට ගත් උත්සහය නිෂ්ඵල විය.

ආලයත් කීකරුකමත් අතර මැදිවූ, සම්පත් - දෙමහල්ලන්ට කීකරුවීම මැනවයි සිතාගත් නමුදු සම්පත් තනිව සිටින සෑම අවස්ථාකදීම තම පෙම්වතියවූ ප්‍රියා ගැන සිත සිතා තැවුනේය.

ප්‍රියාද තම නෑදලා දෙදෙනා හා බාප්පා සමග මහනුවර තමන්ගේ නිවසට ආවාය.



ඇල්ප්‍රඩ් එදිරිමාන්න සහ රුක්මණී දේවි

හොඳ අවස්ථාවක් බලා නුවරඑළියේදී වැදගත් තරුණියෙකුට තමා වූ පොරොන්දුව ගැන මෑණියන්ට දන්වා ඇගේ මාර්ගයෙන් පියාණන් කැමති කරවා ගැනීමට උත්සහ කළේය.

ලියමනක් යවා ගත්තේ නෑත් තාගේ අසනීපය නිසාම නොව, තම මාමා කෙනෙකුගේ දියණිය වන විජිතා විවාහකරදීමේ කතාව පොරොන්දුවූ ප්‍රකාර සම්පත් නාහෙයින් ඇ මහත් කනස්සල්ලෙන් පසුවූවාය. ඇගේ මෙම කනගාටු තත්වය මනාව තේරුම් ගත් එක් නෑන්දා කෙනෙක් සම්පත් හමුවී මෙ ගැන තීරණයකට ඒම සඳහා ඔහු හමුවීමට ප්‍රියාත් සමග කොළඹ ආවාය. මෙදින මේ වේලාවේදී ඔවුන් නොසිතූ දෙයක් දකින්නට ලැබුනේය. එනම් සම්පත් නමැති මේම

# නිදා සිට පෙන්වනු ලැබේ

තරුණයා ඉතා ලස්සන තරුණියක් සමග විවාහවී-මධු සමය ගතකිරීම යන සැටිය.

මෙදුවූ ප්‍රියා ඉවසිය නොහැකි තරම් දුකින් තැවුනාය. වැලපුනාය-හැඬුවාය. එහෙත් ඒ සියල්ලම කළේ ආත්ම ගෞරවය ආරක්ෂාව න පරිද්දෙනි. එදුම් සවස ගෙදර පැමිණි මෙ දෙදෙනාගේ කසුකුසුව බාප්පාට ඇසී ඊවුලට කළ අවමානයට දඬුවමක් වසයෙන් එවෙලේම ගෙදරින් පිටවී යන්නට අණ කලේය.

මේ අතර නොමේරූ පෙමක ගැවීම නිසා මේ වැදගත් තරුණිය අනාථ වූවාය.

මෙ සැම දෙයක්ම රහසිගතව තබාගෙන කටයුතුකළ ඈ දරණිය-නැත්දනිය දරුවා ලැබී සවල්ප කලකින් හදිසි අනතුරකට හාජනවී මලවුන් අතරට එක් විය.

පරුෂ වචනයෙන් බැන වැදී ඈ පලවා හරින ලදී.

වේදනාවත් කම්පනයත් නිසා තාවකාලික උම්තුවෙන් දරුවා මහමග දමා ඈ අතුරුදහන් විය.

වාසනාවකට මෙන් ගුණවත් මිණිසෙකුට මෙ නොදරුවා හමු විය. ළදරු වියේදී නොයෙකුත් තාඩන පීඩන වලට මැදිවුණු මෙ ළමයා පාසැල් සමයේදී සිසුන්ගේ අවමණට ලක් විය. ඉන්තැලී නන්නත්තාරේ යනවිට ගැට කපන්නන් රැලකට අසුවිය. එහි ප්‍රතිපලයක් වසයෙන් හොරකම කට අසුවී අධිකරණය හමුවට ආහ.

තමා කළ වරදට තීන්දුව දෙන්නට යන්නේ තම පියා බව මෙ

මෙවැනි පාදඩ ජීවිත වලට වැටෙනවා" කියත්ම-"පාදඩයා ඔහු නොවෙයි සවාමිණි, ඔහුගේ පියා යැයි කියමින් රුමත් ගැහැණියක් උසාවියෙන් පිටවී ගියාය.

මේ මස 13 වැනිදා සිට පෙන්වීමට නියමිත ජෙස්මින් පිල්මිස් සමාගමේ "ලාදළු" චිත්‍රපටියේ කතාවේ සැලකිල්ල එයයි. රුක්මණි දේවි, ස්ටැන්ලි පෙරේරා, විජිත මල්ලිකා, ලැඩී රණසිංහ, ඇල්ප්‍රැඩ් එදිරිමාන්න, ඇල්.ඇම්. පෙරේරා, ගර්ලි ගුණවර්ධන, ප්‍රේමා විජේවර්ධන, හෙක්ටර් ජයසිංහ, ඒ. ආර්. ඇම්. යසීම්, විමලා කුමාරි, විනී රන්වල, පී. බුලත්සිංහල, බන්ඩු මුණසිංහ, දෙන් සිරිසේන, ඩික්සන් පෙරේරා, බාපු යාසීන්, මොයිනා නාහයන කීර්තිමත් නළු නිළි පිරිසක් රඟ දක්වන "ලාදළු" චිත්‍රපටියේ දෙබස් ලියා සම අධ්‍යක්ෂක ලෙස කටයුතු කර ඇත්තේ මයිකල් සන්නස් ලියනගේයි. අධ්‍යක්ෂණය හා සංස්කරණය ඇස්. රාමනාදන් ගෙනි. ලිනී ද කෝස්තා මෙහි කැමරාව ක්‍රියා කොට ඇත. "ලාදළු" චිත්‍රපටියේ සංගීත අධ්‍යක්ෂක ඩබ්ලිව්. ඩී. අමරදේවය. ශ්‍රී චන්ද්‍රරත්න මානවසිංහ හා චන්ද්‍රා වයමන් විසින් රචිත ගීත රුක්මණී දේවි, අමරදේව, ශාන්ති ගීතදේව හා මල්ලිකා කහවිට ගයති.

මේ චිත්‍රපටියේ නිශ්පාදකවරයා වි. ඇම්. ඒ. හසන්ය.



ලැඩී රණසිංහ හා ඩික්සන් පෙරේරා

අනාථ භාවයෙන් අනාථ භාවයට පත්වූ මෙ තරුණිය දරුවාත් රැගෙන තම පෙම්වතා හමුවීමට ගියේ දරුවා ඔහුට භාරදී යහමග යැවීම සඳහාය.

තම තත්වයට නොගැලපෙන මෙ කාරිය කිරීමට මැලිවූ ඔහු ළමයා නොදන්නාසේම - හොරෙකු මෙන් තමා ඉදිරියේ ඉන්නේ තමන්ගේම දරුවා බව මෙ නඩු කාරයාද නොදන තීන්දුව දෙමින් "මැණියන්ගේ උතුසුම හා කරුණාවෙන් ඈතව පියාගේ ආරක්ෂාව නැතිව හැදෙන දරුවෝ



රුක්මණී හා නෙලිකා ජයසූරිය

# සාදර කරුණා

චිත්‍රපටය : " ලාදළු ".
සංගීතය : අමරදේව.
ප්‍රබන්ධය; ශ්‍රී චන්ද්‍රරත්න මානවසිංහ.
ගායනය : රුක්මණී දේවි.

සාදරකරුණාදයාගුනේකෝ //
කොහෙ ගියේදෝ
ගියේ කොහේදෝ/
සාදර කරුණා දයාගුනේකෝ
සාගරයෙත් නෑ
ගංගාවෙත් නෑ
බැලූ බැලූ අැගිය
කොතැනත් නෑ
සාදර කරුණා දයාගුනේකෝ
මල් රොන් මීමැස්සන්
ගෙන එනවා


රුක්මණී දේවි

මී වද වෙත මිනිපුත් ගෙන යනවා//
ආ සංයෝගා වියෝ ගත්ථා ///
සාදර කරුණා දයා ගුනේ කෝ //
කොහේ ගියේදෝ - ගියේ කොහේදෝ
සාදර කරුණා දයා ගුනේ කෝ

# අම මිහිර

චිත්‍රපටය : " ලාදළු ".
සංගීතය : අමරදේව.
ප්‍රබන්ධය: ශ්‍රී චන්ද්‍රරත්න මානවසිංහ.
ගායනය : රුක්මණී හා අමරදේව.

සුව දෙන සිත සැනසුම්. ....
අම මිහිරකි ලොව රස පෙම්..//
සුව දෙන.........
දුරංගනාවන් ගෙනා සිහින
වැල්
දිවෙයි දිවෙයි වන හිසේ වැදී
අම මිහිරකි ලොව රස පෙම්
සුව දෙන සිත සැනසුම්-
අම මිහිරකි.......
රහස් කතාවක් ඇසෙයි
ඇසෙයි දැන්
රහස් කතාවක් ඇසෙයි
ඇත සුලං රැලි වලින් මිදී


අමරදේව

අම මිහිරකි ලොව රස පෙම්
සුව දෙන සිත සැනසුම්--අම මිහිරකි ලොව.......
සිහින් වලා සළු වලින් වැසී //
කඳු කොමලියන්ගේ බඳ වැදි වැදී //
හොරෙන් බලයි අප දිහා විටින් විට
රස සාගරයේ ...........
රස සාගරයේ කිඳි කිඳී......... අම මිහිරකි .......
සුව දෙන සිත සැනසුම්
අම මිහිරකි ලොව රස පෙම්

# සෙනෙහස සොම්නස

චිත්‍රපටය : " ලාදළු ".
සංගීතය : අමරදේව.
ප්‍රබන්ධය: චන්ද්‍රා වයමන්.
ගායනය ; මල්ලිකා කහවිට.

සෙනෙහස සොම්නස අතිනත
ගත්විට ඉම්හිරි සුවය මැවේ
ඉඟියෙන් පවසන සේරුන්
යුවලක්-යහි අර ගගන
ගැබේ//
හිරු රැස සිප සිප පිපී මල්
කැකුලක-ආදර සුවය දීවේ
බඹරෙක් ලනවෙයි මල්
පැනී නොසොයා, නැතිවද
සතුට හිතේ//
බොල් පිනි බිමට සලා -
මල් පැනී එපා කියා


මල්ලිකා කහවිට

රුදු බමරෙකුගෙ නියා - ඉගිලී යයිද පියා
මද මද පවනින් පෙඩි රැලි පෙරලෙන -- ලස්සන තිසා වැවේ
ගොළු බව ඔබටත් දැනිලද නොදනේ -- ඔබ මේ නිඃඩ වුනේ//
පෙර පෙම්වතුන් පවා -- පෙම් රජ දහන් මවා
වැව ලඟ තුරුලුවෙලා -- හිනැහී මුකුළු කලා
සෙනෙහස සොම්නස.....................
ඉඟියෙන් පවසන........,..............

# චන්වල ලෝකේ

චිත්‍රපටය : " ලාදළු ".
සංගීතය : අමරදේව.
ප්‍රබන්ධය: ශ්‍රී චන්ද්‍රරත්න මානවසිංහ.
ගායනය ; ශාන්ති ශීනදේව.

චන්වල ලෝකේ මදුරයි//
නලියන ලාදළු වාගේ
සුව සැලසෙන ගම්මානේ-
ශීතල සෙවනැලි ගානේ.....
චන්වල ලෝකේ මදුරයි.......
කඳුකරේ ගල් අතරේ//
දිය පහරේ පෙන නැංවේ
ගැටෙන ලොවේ.....මිහිර
දැනේ....ගැටෙන ලොවේ
ගැටෙන ලොවේ මිහිර දැනේ


ශ්‍රී චන්ද්‍රරත්න මානවසිංහ

අහස් කුසේ සැන්දෑවේ — චන්වල ලෝකේ මදුරයි
උකුලු තලා ලෙලදේ // ගැමි ලිය ලැම නැටවේ
ගැටෙන ලොවේ මිහිර දැනේ — ගැටෙන ලොවේ......
ගැටෙන ලොවේ මිහිර දැනේ

අහස් කුසේ සැන්දෑවේ — චන්වල ලෝකේ මදුරයි
නලියන ලාදළු වාගේ — සුවසැලසෙන ගම්මානේ
ශීතල — සෙවනැලි ගානේ — චන්වල ලෝකේ මදුරයි.

# තරණය

**• නිමල් විජයතුංග විසිනි**

ඉහළ අහස් තලය ඉමහත් මූඨල සවරූපයක් බැළදගත් ලෙසක් පිළිබිඹු කරයි. පහළ වාළුකා තලය දැඩි අව් රැසින් කැකෑරෙමින් පවතී. වැල්ලෙහි එරත මගේ දෙපය එහාස් එරත-එරත ගානේ පිළිස්සෙයි. එක පයක් වැල්ලේ එරී තිබියදී, මම මහත් ආයාශයකින් අනෙත් පය ඔසවා අඩියක් පමණ ඉදිරියෙන් තබමි· එය "බරාස්" යන කටුක හඬක් නිකුත් කරමින් වැල්ලේ කිඳියයි. මගේ දෙපතුල්වල පිට හම ගැලවී ඇති බැවින් ඉසිලිය නොහැකි තරම් දරුණු වේදනාවක් දෙපතුලේ සිට හිස් මුදුන තෙක් දිවෙයි. නමුත් මට මේ මාරක ගමනෙහි අන්තය දක්වා යාමට ඇති ආශාව ඉතා දැඩියි. ඈතින් පෙනෙන ක්ෂේම භූමියත්, එහි සිට මට අත වනන්නියත් මගේ සිතට ආශාව ඇතුළු කරයි . . !

සූර්ය තාපය එන්න එන්නම උත්සන්න වෙයි. මගේ දෙපය පමණක් නොව, නිරුවත් උඩු කයෙහි හමද දැවී යයි. හිසෙහි ඇති පොට්ටනිය හිසෙන් බිමට බා මදක් ඒ මත වාඩිවී සිටිය යුතු යයි මට සිතේ. මම ඒ සිතුවිල්ල ක්‍රියාවට නැඟීමට සිතුවා පමණයි

"ප්‍රමාදය කාලය කා දමයි . . . නොනැවතී ඉදිරියට එන්න. ක්ෂේම භූමිය අත්පත් කර ගන්නට නම් පමා නොවී, වෙහෙස නොබලා කාන්තාරය 'තරණය' කළ යුතුයි!"

මේ මිහිරි වචන කිහිපය මට ඇසුණේ ඈත ලොවකින් ගලා ආ සුහද පනිවුඩයක් මෙනි. නමුත් මට ඒ ඇමතුවේ ක්ෂේම භූමියේ වෙසෙන අර සුන්දර කාන්තාවය.

ඉන් ධෛර්යමත්වූ මම තව අඩි දෙක තුනක් පෙරට ඇදුණෙමි. නමුත් ක්ෂෙම භූමිය දෙසින් ගලා එන වේගවත් සුළඟ මගේ ගමනට බාධා පමුණුවයි. මා ආපස්සට තල්ලුවී යන විට මගේ ධෛර්යය දියවී යයි . . . !

"අධෛර්යයට පත් වන්නට එපා! තව වරක් උත්සාහ කර බලන්න. ඔබ සතු සියළුම වස්තුව ඇත්තේ ඔය හිසේ තබා ගෙන ඇති පොට්ටනියේ බව මා දන්නවා. ඔය පොට්ටනිය ඉවත දමා එන්නට ඔබ අසතුටු ඇයි? එසේ කළ හොත් ඔබට කිසි බරක් නැහැ නොවේද?"

යළිත් ඒ මිහිරි වචන ඔස්සේ ගලා ආ සුහද ඇරයුම මා දෙසවන පතිතවිය. මේ පොට්ටනිය කෙසේ නම් ඉවත දමන්නද? මෙහි ඇත්තේ කෙතරම් වටිනා වස්තු සම්භාරයක්ද? ඇරත් මා මෙය ගෙන යන්නේ ඇයට තිළින කරන්නටයි. ආශාව තව තවත් තියුණු වූයෙන් මා කළේ ඇය ඉවත දමන්නැයි කී පොට්ටනිය හිසෙන් තුරුල්ලට ගැනීමය. එහෙත් හදිසියේ හමා ගිය සැඩ සුළං පහරක් වැදී පොට්ටනිය මා අතින් ගිලිහී බිම පතිතවිය. මා එය අවුලා ගන්නට තැත් කරනු දුටු අර කාන්තාව කොක්හඩලා සිනාසෙන්නට වූවාය. මම එය නොඇසුනාක් මෙන් මගේ වස්තුව සහිත පොට්ටනිය අවුලා තුරුළු කර ගතිමි.

කන්හාව මා තුළ රජ කරන්නාක් මෙන් මට දැනේ. එකී තන්හාවත්, ආශාවත් සමග මා තුළ ඇත්තේ දැඩි පිපාසයක් හා බඩ ගින්නකි.

•

"මේ බලන්න. හොඳින් ඇස් ඇර බලන්න. ඔබේ පිපාසය සංසිඳුවන සිසිල් පැන් මෙහ තියෙනවා. බඩගින්න නිවා ලන මිහිරි ආහාර මෙහි අනන්තයි! අප්‍රමාණයි! ඇයි තවත් ඔය පොට්ටනිය ඉවත නොදමා ලතැවෙන්නේ?"

•

මම ඇගේ මිහිරි භාෂිතයෙන් නව පණක් ලදිමි. ආශාව දියවී යන ලෙසක් දැන් මට දැනෙයි. තුරුළු කරගෙන ඇති පොට්ටනිය දෙස මම නෙත් යොමු කළෙමි! මට දැන් එය පෙනෙනුයේ හිරි කිත සර්පයකු හල හැවක් මෙනි. මම එය පිළිකුලෙන් යුතුව හැකි තරම් ඉවතට විසි කළෙමි. මොහොතකින් එය ලිහී ඒ තුළ තිබූ වස්තු සම්භාරය සිසි කඩ විසිරී ගියේය. නමුත් ඒවා දැන් මට පෙනෙනුයේ වස්තු වශයෙන් නොවේ. ඉවත දැමිය යුතු කුණු කසළ ගොඩක් මෙනි. ඒ සියල්ල චණ්ඩ මාරුතයට අසුවී ඈත මිරිඟුව දෙසට ගසාගෙන යද්දී මගේ සිරුරට අමුතු සැහැල්ලුවක් දැනෙන්නට විය. සැඩ හිරු රැස් ඇකිළී ගියේය. චණ්ඩ මාරුතය කොහිදෝ සැඟවුණි. අහස දෙසට නෙත් යොමු කරත්ම, ගත ගිම් නිවා සනහාලන සිරි පොද වැස්සක් ඇද හැලෙන්නට විය. ඉන් මගේ සියළු වේදනා සේදී ගියේය. මා ඉදිරියේ තිල් තණ පලසක් මැවුණි. අර කටහඬ මට නැවත ඇසිණි;

"දැන් ඔබට කිසි බාධකයක් නැහැ; සැනසුම කරා එන්න!"

•

මම ක්ෂෙම භූමිය දෙස බැලුවෙමි. අර කාන්තා රූව දැන් වඩාත් පැහැදිළිවම මට පෙනෙයි. සුදෝ සුදු සිනිඳු සළු පිළියෙන් සැරසුණු ඇගේ දේහය ග්‍රීක් මිත්‍යා කතාවන්හි එන දෙවඟනකගේ වැන්න. ඇගේ රුවින් කාන්ති විහිදෙයි. ඝන නිල් කෙහෙවළීය මොණර පිල් මෙන් පිට දිගේ විසිරෙයි. ඉඳුනිල් නෙත් වල ඇත්තේ කිව නොහැකි තරම් සුන්දර ගතියකි. දෙතොල'තරින් මන්දස්මිතයක් පහළ කළ ඈය මා දෙසට දෑත පෑවාය. මම එදෙසට දුවන්නට වීමි. නමුත් මා ඇය කරා ළං වෙත්ම ඕ අතුරුදහන් වූවාය. ක්ෂෙමභූමියේ ඉතිරි වූයේ ඇගේ සුවඳ පමණි.

මට දැඩි වේදනාවක් දැනිණි. මම කෑගසා ඇට කතා කළෙමි. මගේ ඇස් ඇරිණි. එය සිහිනය කැයි කෙසේ සිතන්නද?

## නැටුමට දක්ෂ සවර්ණා

පසුගිය අළුත් අවුරුදු දින පාමංකඩ කිරුළපන සිංහල අළුත් අවුරුදු උත්සව සභාව මගින් කිරුළපන නාගරික ක්‍රීඩා භූමියේදී පැවැත් වූ අළුත් අවුරුදු උත්සවය අවසානයේදීශාන්තා ලෝක කලායතනය හා සාධු සමාජය මගින් ඉදිරිපත් කළ දේශීය නාට්‍ය කලා සංදශීතයේදී ශාන්ති විරාජ් හා සිරිමතී රසා දරීගේ ශිෂ්‍ය සවර්ණා කාන්තිගමගේ මෙන විය මෙසේ මනහර නාග මානවිකා නැටුමක් ඉදිරිපත් කළාය.



සිරිසේන ගමගේ හා ප්‍රේමා වීරසිංහ යුවලගේ දුවණියක් වන සවර්ණා රජයේ ගාන්ධර්වපරීක්ෂණයේ උඩරට නැටුම් පිළිබඳ ව (මධ්‍යම) සාමාර්ථයක්ද ලබා ඇත.




9286-ආර්. ඩී. එඩ්වින් ව: 21
ශුධහමුදා කඳවුර,
අ: 3, ගක්තලාව.
විනෝ: මල්වැවීම, මිතුරු ඇසුර.

9287-සී. චන්ද්‍රා දයාවංශ ව: 18
නො: 98, මැද වීදිය,
කිහුරග්ගොඩ.
විනෝ: නව කතා බැලීම, මිතුරු ඇසුර.

9288-එච්. ජී. ඩාර්ලිස් සිල්වා ව: 20
ලංකා තෙල් ගබඩාව,
දෙඹගහවෙල.
විනෝ: මිතුරු ඇසුර, නවකතා කියවීම.

9289-ලෙස්ලින් ලීලා බද්දෙව්තාන ව: 15
නො: 360, පේරාදෙණිය,
මහනුවර.
විනෝ: මිතුරු මිතුරියන් ඇසුර.

9290-ජී. රමණී අලහකෝන් ව: 17
නො: 510, නුවර පාර,
වව්නියාව.
විනෝ: ලිපි ලිවීම, කෙටි කතා ලිවීම.

9291-ගාමිණී ඇස්. ඇනාවුද ව: 18
"හේමාලි",
දූදිගම-තෙළුම්දෙනිය.
විනෝ: නව කතා කියවීම මිතුරු ඇසුර.

9292-ඇම්. ඇස්. කරුණාරත්න ව: 27
"මීහිර"
වලගෙදර-බලපිටිය.
විනෝ: ඡායාරූප ශිල්පය, විනෝද ගමන් යාම.

9293- ජී. ඒ. ලීලාවතී ජයකොඩි ව: 19
වතුරුගම-ගම්පහ.
විනෝ: ගී ගැයීම, මිතුරු ඇසුර.

9294-ආනන්ද ජයරත්න ව: 18
56, බොක්ජියන් පාර,
කොළඹ-13.
විනෝ විසිළු කිරීම, ගී ගැයීම.

9295 - ඩී. මදනායක ව: 23
බද්දේගම වතුයාය,
බද්දේගම.
විනෝ: පොත් පත් බැලීම, මිතුර ඇසුර.

9296-ජී. ඇම්. සාදික් ව: 25
දෙහිගස්තලාව,
බලංගොඩ.
විනෝ: හින්දි ගී එකතුව, මිතුරු මිතුරියන් ඇසුර.

9297-එල්. වී. කුසුමා ද සිල්ව ව: 17
හයිලක්ස්,
හැටන්.
විනෝ: ගුවන් විදුලියට සවන්දීම, මල් වැවීම.

9298-සුභසිරි වණිගසූරිය ව: 22
අංක: 3, මොරිසන් පාර,
කොළඹ-7.
විනෝ: චිත්‍රපටි බැලීම, මිතුරු ඇසුර.

9299-කේ. ඒ. හේරත් බණ්ඩා ව: 18
ඊරියගම පල්ලමේ කඩය,
පේරාදෙනිය.
විනෝ: තමන්ගෙ වාසියට අනුන් මුලාකිරීම.

9300-ඩබ්ලිව්. ප්‍රේමදාස විජයවීර ව: 23
"විජය ශ්‍රී මහල්"
කලුකොඳයාව,
මල්වාන.
විනෝ: ගුවන් විදුලියට සවන්දිම, මිතුරු ඇසුර.

9301-ඉන්ද්‍රානි මල්ලවආරච්චි ව: 19
8/4, කෙත්තාරාම පාර,
කළුතර.
විනෝ: සිනමා බැලීම, මිතුරු මිතුරියන් ඇසුර.

9302-ඇල්. පී. ඩී. සිල්වා ව: 23
සී. ඩී. ඊ. සමාගම,
උඩවලව යෝජනා ක්‍රමය,
කොළඹගෙආර.
විනෝ: කවි නැනීම, මිතුරු මිතුරියන් ඇසුර.

9303-රානි පිලිෂියා ප්‍රනාන්දු ව: 17
22/1, එගොඩඋයන,
මොරටුව.
විනෝ: ගුවන් විදුලියට සවන්දීම, සිප්පි එකතු කිරීම.

9304-එස්. එල්. මොහම්ඩ් නෂාම් ව: 18
නො: 53, කිරිමැටිතැන්න,
බලංගොඩ.
විනෝ: ගී ඇසීම, මිතුරු ඇසුර.

9305 - මල්ලිකා විලේගොඩ ව: 17
හයිලන්ස් - හැටන්.
විනෝ: මල් වැවීම, ගී ඇසීම.

9306 - ලතා ගමගේ ව: 18
490, බේස්ලයින් පාර,
කොළඹ - 9.
විනෝ: ලිපි ලිවීම, ගී ගැයීම.

9307-රෝෂාන් බස්නායක ව: 20
දළුපතගම,
මොත්තැකුලම.
විනෝ. ලිපි ලිවීම, නවකතා බැලීම.

9308 - භද්‍රා රාජපක්ෂ ව: 17
නො: 29, ගලගෙදර,
පාදුක්ක.
විනෝ: ගී ගැයීම, හෝ ගී ඇසීම.

9309-බ්‍රිජට් ඒ. එදිරිසිංහ ව: 17
මුණමල්ලේගම-මාහෝ.
විනෝ: සිනාසීම, මිතුරු මිතුරියන් ඇසුර.

9310-කේ. එච්. ප්‍රේමා ව: 20
නො: 45/3, වුඩ්ලන්ඩ් මාවත,
නුගේගොඩ.
විනෝ: මිතුරු මිතුරියන් ඇසුර, සිනාසීම.

9311-එච්. සෙනරත් ලක්ෂමන් පෙරේරා ව: 17
581, දිප්පිටිගොඩ,
දළුගම-කැලණිය
විනෝ: විදේශ මුද්දර එකතුව, අවංක මිතුරු ඇසුර.

9312-කාන්ති රාමනායක ව: 18
නො: 31, නාගලගම් වීදිය,
ග්‍රෑන්ඩ්පාස්-කොළඹ.
විනෝ: ගී ගැයීම, ගී ඇසීම.

9313-හින්නි හාමිනේ දිසානායක ව: 21
මැල්පෝට් වත්ත,
පුස්සැල්ලාව.
විනෝ: ඇම්බ්‍රොයිඩර් වැඩ, නවකතා කියවීම.

9314-බී. වී. පී. අතුරුපාන ව: 20
අතුරුපාන – වතුර.
විනෝ: විසිළු කිරීම, සිනාසීම.

9315-නන්ද ඩී. රත්න ව: 16
132, 50/7, දුම්රිය නිවාස,
සද්ධර්මා මාවත,
මාලිගාවත්ත.
විනෝ: චිත්‍රපටි බැලීම, පොත් පත් කියවීම.

9316-ඩබ්ලිව්. ඇඩ්වින් ප්‍රනාන්දු ව: 22
ප්‍රනාන්දු ස්ටෝර්ස්,
ඇල්කඩුව.
විනෝ: නව කතා කියවීම, මිතුරු ඇසුර.

9317-ශාන්ත පද්මසිරි ජයසිංහ ව: 20
594, "පද්මපාය",
ඔබේසේකරපුර-රාජගිරිය.
විනෝ: පින්තූර බැලීම, නවකතා කියවීම.

9318-ලීලාවතී මැණිකේ ව: 18
ඇඹව-කුලියාපිටිය.
විනෝ: ගුවන් විදුලියට සවන්දීම.

9319-ඇන්. ඇල්. ඒ. වීරසිංහ ව: 23
177, ගල්වල පාර,
දෙහිවල.
විනෝ: පොත්පත් බැලීම, මිතුරු ඇසුර.

9320-එල්. නානායක්කාර ව: 20
උඩුවාවල-කටුගස්තොට.
විනෝ: කැගැසීම, විහිළුකිරීම.

9321-ටිකිරි බණ්ඩාර අබේකෝන් ව: 23
ගොවිකම් කායසීාලය,
බිණ්ඩාරවෙල.
විනෝ: විහිළු කිරීම, සිනාසීම.

9322-යූ. ඇල්. නාලනී පද්මා පෙරේරා ව: 20
75/3, කැප්පෙටිපොල මාවත,
කොලොන්නාව,
වැල්ලම්පිටිය.
විනෝ: ගී ගැයීම, පොත් බැලීම.

9323-තංගමනී අමරාදේවි නල්ලන් ව: 22
"දේව්විලා",
පන්ඩාරිකුලම්,
වව්නියාව.
විනෝ: අවංක මිතුරු ඇසුර, ගෙදර වැඩ.

"කලා" මිතුරු හමුව

නම: ..........................................

ලිපිනය: ..........................................

වයස: ........

විනෝදාංශ: ..........................................

# නිර්වාණය කරළියේ

සරසවි කලා මුළුව නම් නාට්‍ය සංගමයක් මගින් නිෂ්පාදනය කරනලද "නිර්වාණය" වෙසක් දිනයන්හි අගනුවර දේවානම්පියතිස්ස මාවතේදී වේදිකාගත කරනු ඇත. තොමිලේ පෙන්වන මෙම නාටකයේ ජනප්‍රිය වේදිකා නළු නිළි පිරිසක් රඟ පාන අතර අධ්‍යක්ෂණය කර ඇත්තේ ඇන්. ආර්. ඩයස්ය.



ඇන්තනී සී. පෙරේරා, ක්‍රිස්ටි ලෙනාඩ් හා හර්බට් අමරවික්‍රම "යටගිය දවස" චිත්‍රපටියේ ජවනිකාවක.

# ගායකයාට 'ඇතුල්වීම තහනම්'

ප්‍රකට ගායකයෙක් වන එච්. ආර්. ජෝතිපාල චිත්‍රපටියක උප කතානායකයෙකුගේ චරිතයක් සඳහා තෝරා ගෙන සිටී. ඒ සිතුමිණ නම් අලුතින් පිහිටුව, ගන්නාලද චිත්‍රපටි සමාගමක් මගින් නැණීමට කටයුතු යොදාගෙන යන "ඇතුල්වීම තහනම්" නමැති චිත්‍රපටිය සඳහායි. ජෝතිපාල මෙහි රඟ පාන්නේ සන්ධ්‍යා කුමාරිගේ පෙම්වතා ලෙසය.

ඒ. ජේ. ද සොයිසා විසින් කතාව හා දෙබස් ලියා ඇති මේ චිත්‍රපටියේ අශෝක පොන්නම්පෙරුම, රීටා රත්නායක, ඩේවිඩ් ධර්මකීර්ති, ලිලියන් එදිරිසිංහ හා ජෝසප් සෙනවිරත්න යන නළු නිළියන්ද රඟපාති.



"ඇතුල්වීම තහනම්" චිත්‍රපටිය මෙහෙයවීම ඇම්. ඇස්. ආනන්දන්ට පැවරී ඇත. මෙහි සංගීත අධ්‍යක්ෂකවරයා පී. ඇල්. ඒ. සෝමපාලයි.

# මට ඔබද නැත; මරණයද නැත



චිත්‍රපටිය : වහ කෞන් ථි ?
(ඇය කවුරුන් වීද ?)

සංගීතය : මදන්මෝහන්.

රචනය: රාජාමෝහන්දි අලිඛාන්

ගායනය : ලතා මංගෙෂ්කාර්.

නෛනා බරසේ රිම්ජිම් රිම්ජිම්
පියා තොරේ අවන් කි ආස්
නෛනා බරසේ බරසේ බරසේ

වෝ දින් මේරි නිගාහෝ මේං-
වෝ යාදේං මේරි ආහෝං මේං

යේ දිල් අබ් තක් භටකතා හෛ-තෙරී උල්ෆත් කි රාහෝ මේං
සූනි සූනි රාහේං-සහමී සහමී බාහේං
ආබෝං මේං හෛ බරසෝං කි ප්‍යාස්
නෛනා බරසේ - - - - -

නස(z)ර් තුජ බින් මචල්ති හෛ-මුහබ්බත් හාථ මල්තී හෛ
චලා ආ මේරේ පර්වානේ-වfපා කී ශම්මා ජලතී හෛ
බ මේරේ හම්රාහී-fපිරතී හුං සබරාර්
ජහාං භි හෛ ආජා මෙරෙ පාස්
නෛනා බරසේ --- ----

අධූරා හුං මෛං අfසානා-ජෝ යාද් ආ උං චලේ ආනා
මෙරා ජෝ හාල් හෛ තුජබින්-වෝ ආකර් දේඛතේ ජානා
භීගි භීගි පල්කෝ-ඡම ඡම් ආංසු ඡල්කෝ
බෝර් බෝර් ආංකෝං හෛ උදාස්
නෛනා බරසේ --- ---- ---

යේ ලාබෝ ගම් යේ තන්හාර්හ-මොබ්බත් කියේ රුසවාර්
කටී ඓසී කර් රාතෝං-න තුම් ආයේ න මෞත් ආර්
යේ බිංදියා කා තාරා-පෙසේ සෝ අංගාරා
මේහංදී මේරේ හාථෝං කි උදාස්
නෛනා බරසේ ----

<u>මෙහි සාමාන්‍ය අරුත මෙසේය :</u>

ප්‍රියේ! ඔබගේ පැමිණීම අපේක්ෂාවෙන් පොද වැසි වැටෙන හඩින් දෑසෙහි කඳුළු බිඳු වැසී.
එම පැරණි දින මගේ බැල්මෙහි, එම රසවත් මතකයන් මගේ දුක් සුසුම් තුළ ගැබ්වී ඇත.
මගේ බිඳුණු හදවත තවමත් ඔබගේ ප්‍රේමයේ මාවතෙහි අතරමං වෙමින් පවතී.
මාර්ගයෝ හිස්ය; දෑත් සැකයෙන්, බියෙන් වෙලී ඇත.
(ප්‍රේමයේ) වැසි පිපාසය දෑස් තුළ වෙයි.
ඔබ නොමැතිව දෑස් මුරණ්ඩුය; ප්‍රේමය වැළපෙයි.
මගේ පලහැපියාණෙනි! මා කරා පියඹා එන්න!
විශ්වාසයේ පහන් වැටිය (තවමත්) දැල්වේ.
මගේ මාර්ග සහායකය; මම කලබලවී සිටිමි.
ඔබ කොතැන වුවත් මා කරා එන්න.
මම අවසන් නොවූ පෙම් පුවතක්මි. යම් මතකයක් වේ නම් එන්න!
ඔබ නොමැතිව මම් කුමන තත්වයක සිටිම්දැයි ඇවිත් නරඹා යන්න.
ඇසිපිය තෙත්ව ඇත. කඳුළු බිඳු වැසි සේ ගලා යයි.
නැසී ගිය දෑස් සෝබරව ඇත
මේ දහසක් දුක්, මේ හුදකලාව, ආලයේ මේ අපවාදයන් සහිතව කිහිප රැයක්ම ගෙවිණ. ඔබ ආවේ නැත; මරණයද පැමිණියේ නැත
නළලතවූ මේ තිලකය දැන් අඟුරු වැනිය.
මගේ දෑත් හි වර්ණවත් සැරසීම් දුක්බරය.

**සිරි කහවල ලියයි**

# බොදු චිත්‍රපටි

# ඕනෑ

අපට නිවනෙහි මාහැඟි මගීය දෙසා වදාළාවූ - තිලොවට තිලකවූ - තුන්ලෝකා'ග්‍රවූ අසම සමවූ-පරමෝත්තමවූ අප සම්මා සම්බුදු අමා මෑණියන් වහන්සේගේ පොම්ගුල නිමිත්තෙන් සැම බොදු හදවතක්ම බුද්ධාලම්බන ප්‍රීතියෙන් අතිශයින් ඔද වැඩිගිය මෙවැනි අති උත්තම වෙසක් සමයක, බහුතර සංඛ්‍යාවක් බෞද්ධයින් වෙසෙන පිරිසිදු බුද්ධාගම පවතින්නාවූ ශ්‍රීලංකාද්වීපයේ පිහිටි බොහොමයක් සිනමාහල්වල ප්‍රදර්ශනය වනුයේ මිනිස් හදවත් රාගය, මෝහය, ක්ලේෂය ආදියෙන් විකෘති කර වීමට සමත් අන්දමේ පාප සහගත ක්‍රියා කොතෙකුත් ගැබ්වූ පහත් පෙළේ චිත්‍රපටිය.

සාහසික දරුණු ක්‍රියාවන්ට අනුබල දෙන හොලිවුඩ් චිත්‍රපටි ලංකාවේ වැල නොකැඩී ප්‍රදර්ශනය වෙයි. කාමය කුපිත කරවන රාගාධික හැඟීම් වලින් පිරි ඉතිරී ඒවාට අභ්‍යන්තරව ගහගැනීම් ඇන කොටා ගැනීම් - සුලු දෙයට පවා මිනීමැරීම් වැනි පාපීදරිත කම් මහ ඉහළින් හුවා දක්වන බටහිර චිත්‍රපටි කොතෙකුත් ප්‍රදර්ශනය වේ. මෙවැනි බටහිර චිත්‍රපට අනුකරණයෙන් නිපදවූ ඇතැම් හින්දි ද්‍රවිඩ මෙන්ම සිංහල චිත්‍රපටද දක්නට නොමැත්තේ නොවේ. ඉතින් බෞද්ධයා මේ තරම් අගය කරන්නාවූ මේ පූජනීය වෙසක් සමයේ බෞද්ධ රටක්වූ අප ලංකාවේ ප්‍රදර්ශනය වනුයේ සමාජය දූසිරිතට පොළඹවන රටේ විෂබීජ වගා කරන මෙවැනි චිත්‍රපටිය.

මෙවැනි චිත්‍රපටිවල මිනිමෙක් මුළු සිනමා කලාවම මනින්නේ නම්, ඇත්තෙන්ම යමෙකුට වෙසක් දින චිත්‍රපටි පෙන්වීම සම්පූර්ණයෙන්ම තහනම් කළ යුතුය - වෙසක් සමයේ චිත්‍රපටි ප්‍රදර්ශනය කිරීම නීතියෙන් දඬුවම් ලැබියයුතු වරදක්සේ නීති සකස්කළ යුතුය යනුවෙන් හැඟීයාමටද පුළුවන. නමුත් යමෙක් එසේ සිතනොත් වැරදිය. චිත්‍රපටිය කියනුයේ හොලිවුඩ් පුරයේ සිට එන ඇතැම් පහත්පෙළේ චිත්‍රපටි වලටවත් නැතහොත් පහත් පෙළේ සමහර බ්‍රිතාන්‍ය-ප්‍රංශ හෝ ඉතාලි චිත්‍රපටි වලට පමණක් නොවේ. යහපත් චිත්‍රපටි ලෝකයේ කොතෙකුත් නිපදවේ. එවැනි චිත්‍රපටි වෙසක් සමයේදී වුවද ප්‍රදර්ශනය කිරීම නුසුදුසු නොවේ.

එමෙන්ම විදේශික රටවල ආගමික චිත්‍රපටි නිතර නිපදවනු ලැබේ. ඒවා ඉතාමත්ම සාර්ථක වූවා මෙන්ම එම ආගමික චිත්‍රපටි මගින් ඔවුන්ගේ ආගම් වලටද විශාල සේවයක් සිදුවෙන බවද අපට හොඳින් පෙනේ. බයිබලයේ අඩංගු කථා බොහොමයක් චිත්‍රපටියට නගා ඇත. අරාබිනිසොල්ලාසයේ කථා වස්තුන් රාශියක්ද දැනට සිනමාවට නගා ඇත. හින්දි හා ද්‍රවිඩ දේව කථාද චිත්‍රපටි මගින් අපට දක්නට ලැබේ. මෙම ආගමිකයන් පමණක් නොව ලොවේ සිනමා කර්මාන්තය දියුණු හැම රටකම පාහේ ආගමික චිත්‍රපටි නිපදවනවා මෙන්ම ඒවා මගින් එම ආගම් පිළිබඳ යහපත් අවබෝධයක් හා සර්ධාවක් අන්‍යාගමිකයන්ටද භුක්ති විඳ ගැනීමට ලැබේ.

නමුත් අවාසනාවකට දෝ බෞද්ධවූ අපට අන්‍යාගමිකයන්ට තියා අපටවත් දැක ගැනීමට තරම් බෞඩ චිත්‍රපටි නොමැත. ප්‍රථම බෞඩ චිත්‍රපටිය වශයෙන් 'සිරිසඟබෝ' චිත්‍රපටිය හැඳින්විය හැකි අතර අනෙක් බෞඩ චිත්‍රපටිය වූයේ සුප්‍රසිඩ බෞඩ කථාවක් පදනම්කරගෙන නිපදවූ 'පටාචාරා' චිත්‍රපටියයි. මේ හැරෙන්නට "අංජලී" "බෞද්ධාලෝකය" "අම්බපාලී" හා "අංගුලිමාල" යන බෞඩ චිත්‍රපටි දෙබස් කවාමෙහි ප්‍රදර්ශනය කරණු ලැබීය.

සමාජය සුචරිතට පෙළඹිය හැකි බෞද්ධ කථා ඇසුරෙන් චිත්‍රපටි නිපදවා එය රට පුරා මෙන්ම විදේශීය රාජ්‍යයන්හි ආධාර උපකාර ලබා එම රටවලද ප්‍රදර්ශනයට තැබිය හැක.

අපේ ජාතක කථා චිත්‍රපටියට නැගිය හැක. බෞද්ධ සාහිත්‍යයේ පෞඪ භාවයට හා සාහිත්‍යයික වටිනාකමට කැළලක් නොවන ලෙස යථා ස්වරූපයෙන්ම උතුම් බුදු දහමද නොකෙළෙසන පරිදි එහි උත්තරීතර ගෞරවය රැක ගෙන බෞද්ධ චිත්‍රපටි නිපදවීම



මේ "පටාචාරා" චිත්‍රපටියේ ජවනිකාවකි.

එතරම් අසීරු නොවෙනු ඇත.

අපේ ජනප්‍රිය ජාතක කථාවක් වන වෙස්සන්තර ජාතකය 'වෙසතුරු සිරිත" නමින් දැනට චිත්‍රපටි ගත කරගෙන යන බව වාර්තා වෙයි. එසේනම් ජාතක කථා අතුරෙන් උසස්ම ජාතක කථාවක් වන වෙස්සන්තර ජාතකය හොඳින් සිනමාවට නැගුණහොත් එය බෞද්ධ චිත්‍රපටි නිපදවීමට අපේ සිංහල චිත්‍රපටි නිෂ්පාදකයින් පෙළඹවීමටද බලවත් රුකුලක් වනු ඇත. කුස ජාතකය-ගුත්තිල ජාතකය හා විදුර ජාතකයද චිත්‍රපටයට නැගීමට අදහස් කර ඇති බවක්ද හෙළිවේ.

ජාතක කථාම පමණක් නොව ආදර්ශමත් බෞද්ධ කථා අපේ උසස් ලේඛකයින් ලවා නිර්මාණය කිරීමද අසීරු නොවනු ඇත. පින් පව් ආදියෙහි කර්ම ඵල විපාක මැනවින් පෙන්නුම්කරනා අයුරුද-තන්හාව රාගය මෝහය හේතුකොටගෙන මිනිසා ලෞකික දිවියෙහි ඇලී ගැලී සිටීමෙන් මේ සංසාර සාගරයෙන් එතරවීමක් නොමැතිව මානසිකව මෙන්ම කායිකව පීඩා විඳින අයුරුද-ඊර්ෂ්‍යාව ක්‍රෝධය මානය දළිගැනීම් ආදියෙන් මිනිසාට මිහිපිටම විඳින්නට ලැබෙන්නාවූ අයහපත් ඵලවිපාක ආදියද - වෛරයෙන් වෛරය නොසන්සිඳෙන බවද, මෛත්‍රියෙන් වෛරය සංසිඳෙන බවද-ධර්මය පිළිපදින්නා ධර්මය විසින්ම ආරක්‍ෂකරන බවද ඇතුළුව පුනරුත්පත්තිය ආදියද පෙන්නුම් කරනා මෙවැනි මාතෘකා යටතේ නිර්මාණාත්මක ආදශීමත් කථා ආගමික පසුබිමකින් යුතුව නිසිපරිදි චිත්‍රපටි ගතකොට ප්‍රදර්ශනය කිරීමෙන්ද විශාල සේවයක් වනු ඇත.

නමුත් මෙතනදී තවත් ප්‍රශ්නයක් පැන නගී. ජනතාවගේ ආගමික භක්තිය අවුස්සා මුදල් උපයා ගැනීමේ එකම පහත් චේතනාවෙන් බෞද්ධ චිත්‍රපටි නිපදවීම නම් සාධාරණ නොවේ. එසේ චිත්‍රපටි නිපදවීමට ගියහොත් මුල් තැන ලැබෙනුයේ ආගමට නොව වානිජ අංශයටය. දහම් රසය හා අවබෝධය ලබාදීම සඳහා බෞද්ධ චිත්‍රපටි නිපදවීමට ගොස් ඒවා මගින් විකෘතිවූ දහම් ශික්‍ෂාචාරයක් පතුරුවාලීමට ගියහොත් වනුයේ වඳින්නට ගිය දෙවොල හිසමත කඩාවැටීම' වැනි වූවකි. එවැන්නේද සිදුවීතිබේ.

ජපානයේ නිපදවා ඇති "සාක්‍ය" චිත්‍රපටියද එවැන්නකි. එය බොදු ඉතිහාසයට පටහැනිවූ කථා වස්තුවක් මත හුදු මුදල් ගරාගැනීමේ චේතනාවෙන් නිපදවූවකි. එම "සාක්‍ය" චිත්‍රපටියේ ජවනිකා පෙළක, සිදුහත් කුමරා සසර කලකිරී මහණ දම් පතා ගිහිගෙන් නික්ම ගිය පසු - දෙව්දත්තර යශෝදරා දේවියට බලහත්කාරයෙන් දූෂණය කරන්නාවූ දර්ශනයක්ද අන්තර්ගත කොට ඇති බව කියති. බෞද්ධ චිත්‍රපටි නාමයෙන් මෙසේ බෞඩ ඉතිහාසයේ නොමැති දූ පවා දෂම චේතනාවෙන් යුතුව නිපදවීම නම් නොව යහපත් චේතනාවෙන් වැඩදයි බොදු චිත්‍රපටි නිපදවා ප්‍රදර්ශනය කිරීම නම් හුදු සේවයක්ම වනු ඇත.

මීළඟ වසරේ වෙසක් සමය වන විටවත් අප රටේ අසභ්‍ය සරාගී රැගුම් ඇතුලත් චිත්‍රපටි ප්‍රදර්ශනය නොවී, යහපත් බෞද්ධ චිත්‍රපටි මේ සුරම්‍ය සඳහම් දිවයිනේ සුලභ වේවායි පතමු!

● අර්නස්ට් කුමාර් වඩුගේ

එනවා! එනවා!

# වෝ කෝන් හි?

සද්නා, මනෝජ් කුමාර්, හෙලන්, රාජ් මෙහෙරා, කේ. ඇන්. සිං, ප්‍රවීන් චෞදරි, ධූමාල්

අධ්‍යක්‍ෂක: රාජ් කෝෂ්ලා. සංගීතය: මදන් මෝහන්.

# සන් ඔෆ් ඉන්දියා

( වෛවර්ණයෙනි )

සජිඩ්, කුම් කුම්, කමාල් ජීත්, ජයන්ත්, කන්යාලාල්, සිමි, මුරාඩ්, මුක්රි.

නිෂ්පාදන-අධ්‍යක්‍ෂක: මෙහෙබූබ් ඛාන්. සංගීතය: නෞෂාඩ්.

## 'තරු තුන'

දැන් පිටවී ඇත.

- ජේ. ඒ. මිල්ටන් පෙරේරා
- එච්. ආර්. ජෝතිපාල
- උපාලි ලියනගේ ඇතුළු

තවත් ජනප්‍රිය ගායක ගායිකාවන්ගේ සහ බයිලා ගායකයින්ගේ අළුත්ම ගීත ඇතුලත්ය.

මිල ශත 60 යි.




බෙදාහැරීම

ආනන්ද පොත් හල,
57, පංචිකාවත්ත පාර, මරදාන.

## මලමිනිය පොලිසියත් ගමත් බිය වද්දයි




මෙන්න අළුත්ම බිහිසුණු චිත්‍ර කථාව!

විද්‍යාත්මක ත්‍රාසජනක කථාවන් ලිවීමෙහි කුසලතාවය ඇති කේ. ලයනල් පෙරේරා මහතා අතින් ලියවුණ "ඇවිදින මළ මිනිය" මාරක කතාව දැන් චිත්‍ර කථාවක් වශයෙන් මුද්‍රණයෙන් නිකුත්වී තිබේ. කඩදාසි හිඟය නිසා මුද්‍රණයවී ඇත්තේ සුළු ප්‍රමාණයක් හෙයින් ඔබේ පිටපත අදම ගෙන්වා ගන්න.

මිල රු. 1.25 යි.
වෙළඳ මහතුන්ට විශේෂ කොමිස්.

බෙදාහරින්නෝ:

**ඇම්.ජී.ධම්මදාස සහ සහෝදරයෝ**
නො. 3, මාලිගාකන්ද පාර,
මරදාන, කොළඹ.

## බිනරමලී

නවතම ඉමිහිරි ගුවන්විදුලි ගීත සහ බයිලා ඇතුලත් අළුත්ම ගීත පොත බිනරමලී දැන් පිටවී තිබේ.




මිල්ටන් පෙරේරාගේ, නඳුන් උයනෙහි, මිනිසුන් කෙරෙන් මිදීලා, කර්ණරසායන, ජීවවේදනා, සඳ පාන වගේ, සොමිඳද රාණියගේ, සරණ තුරා, සිනාව කාගෙද ආදී අළුත්ම ගීතද, ෆ්‍රෙඩී සිල්වා, ක්‍රිස්ටි ලෙනාඩ් පෙරේරා, ස්ටීවන් උඩවත්ත ආදීන්ගේ විකට ගීතද, ඇම්. ඇස්. ප්‍රනාන්දු, ඇන්ටන් ජෝන්ස් ආදීන්ගේ නවතම බයිලාද අනිකුත් සියළුම ජනප්‍රිය ගුවන් විදුලි ගායකගායිකාවන්ගේ අළුතම ගුවන් විදුලි ගීතද ඇතුලත් ය.

මිල ශත 60 යි.

බෙදාහරින්නෝ:

**ඇම්.ජී.ධම්මදාස සහ සහෝදරයෝ**
නො: 3, මාලිගාකන්ද පාර,
මරදාන, කොළඹ.

10 වෙනි කාණ්ඩය
15 වෙනි කලාපය
1965 මැයි 10

# කලා

කාර්යාලය: අංක: 117,
අළුත් හෙට්ටි වීදිය, කොළඹ-13.
ටැලිෆෝන්: 7291 - 7292.
අයිතිය: සිංහසංගීත සිනමාස්.

**13** වැනිදා සිට

- ගාමිණී (මරදාන)
- සැපයර් (වැල්ලවත්ත)
- කුසිත්ලන් (නුගේගොඩ)
- රාජ් (මීගමුව)
- වෙම්බ්ලි (නුවර)
- විජය (අම්පාරේ)

ඇතුළු සිනමාස් සිනමාහල් විස්සක පෙන්වනු ලැබේ.

ජෙස්මින් ෆිල්ම්ස්ගේ

# ලදළු

සංගීතය:
අමරදේව

කැමරාව:
ලිනී ද කෝස්තා.

අධ්‍යක්ෂණය:
ඇස්. රාමනාදන්.
මයිකල් සන්නස් ලියනගේ.

නිශ්පාදක:
පී. ඇම්. ඒ. හසන්.



ඉතාමත් වැඩියෙන් විකිණෙන සිනමා අර්ධ මාසිකය

කොළඹ, කොටහේනේ අංක: 11(/5 දරණ තැන පදිංචි තසරේන් ප්‍රනාන්දු වන මිව්සින් "කලා" පත්‍රයේ අයිතිකරුවන් වෙනුවෙන් කොළඹ, අළුත් හෙට්ටි වීදියේ අංක: 111 දරණ ස්ථානයේ පිහිටි සිංහසංගීත සිති මුද්‍රණාලයේ මුද්‍රණය කරවා 1965 මැයි 10 වෙනිද ප්‍රසිද්ධ කරන ලදී.